22923

OL/2014/47/S



ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

47 S

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2014 දෙසැම්බර්
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2014 டிசெம்பர்
General Certificate of Education (Ord. Level) Examination, December 2014

සිංහල සාහිත්‍ය රසාස්වාදය
இலக்கிய நயம் சிங்களம்
Appreciation of Sinhala Literary Texts

පැය තුනයි
மூன்று மணித்தியாலம்
*Three hours*

* I කොටසෙහි **1, 2** ප්‍රශ්නවලටත්, II කොටසෙහි **3 වැනි** ප්‍රශ්නයටත්, III කොටසෙහි **4, 5, 6, 7** ප්‍රශ්නවලින් තෝරාගත් ප්‍රශ්න **දෙකකටත්** උත්තර සපයන්න.

## I කොටස

**1.** (i) සිට (v) තෙක් ඇති කොටස් කියවා, ඒ එක එකක් පිළිබඳ ව අසා ඇති (අ), (ආ) ප්‍රශ්නවලට **කෙටි උත්තර** ලියන්න.

(i) "ඌ මහතට පැමිණියෙන් කාරිය කිම් ද? රජ්ජුරුවන් කෙරෙහි බිඳුවා පියන්නට මා විසින් උපායෙක් දක්නා ලද'යි කීහ."
(අ) මෙම ප්‍රකාශය කරන ලද්දේ කවුරුන් විසින් ද?
(ආ) මෙහි සඳහන් 'උපාය' කුමක් ද?

(ii) "රජ්ජුරුවෙනි, තෙපි ඉතා මැ දොම්නස් වුව. තොපගේ සිතට නොහැඟි ලෙසැ මා කළ වරදෙක් නැත්තේ ය."
(අ) මෙම ප්‍රකාශය කරන ලද්දේ කවුරුන් විසින් ද?
(ආ) මෙම ප්‍රකාශය ඇතුළත් අතුරු කතාවේ නම කුමක් ද?

(iii) "තෝ සඟවා මට තණ කැරැල්ලක් ඩැහැගෙන'වුත් **මහබිතක්කනෙහි** තබව."
(අ) මෙම ප්‍රකාශය කරන ලද්දේ කවුරුන් විසින් ද?
(ආ) මෙහි ඇතුළත් 'මහබිතක්කනෙහි' යන වචනයෙහි තේරුම කුමක් ද?

(iv) "සිත දුසිරි කිලුට
පින් කෙත් නොවන මෙලොවට
කරන පුද ඉසුරට
ගලෙක වපුරන වැන්න බිජුවට"

(අ) මෙම කවිය ඇතුළත් වන ග්‍රන්ථය කුමක් ද?
(ආ) මෙහි දැක්වෙන උපමාව වෙන් කොට ලියන්න.

(v) "සින්දූපමාන වැව් තලා මතින් නැඟී
පද්මරේණුයෙන් සුගන්ධ වී
රන් කරල් නමා නමා - සිත් ප්‍රබෝධයෙන් පුරා
එන්නේ උන් හෙළු ප්‍රාණ වායුවයි"

(අ) ඉහත සඳහන් කාව්‍ය ඛණ්ඩය ඇතුළත් පද්‍ය පන්තිය රචනා කළ කවියා නම් කරන්න.
(ආ) මෙහි සඳහන් වන'සින්දූපමාන වැව්' යනු මොනවා ද? (ලකුණු 04 × 5 = 20 යි.)

**2.** පහත සඳහන් ගද්‍ය හා පද්‍ය කොටස්වල **තද කළු අකුරෙන්** මුද්‍රිත පදවල අර්ථය පළමු ව වෙන් වෙන් ව ලියා, එක් එක් පාඨයෙහි සමස්ත අර්ථය ද ලිඛිල් බසින් ලියන්න.

(i) "රජ්ජුරුවන් කී බොරුයෙන් ශරීරයෙන් නික්මෙන **චන්දන ගන්ධය** ද මුඛයෙන් නික්මෙන **උත්පල ගන්ධය** ද නැති වැ දුර්ගන්ධ හමන්නට වනැ."

(ii) "ඉසුරුමත් තැනැත්තහු **සම්මුඛයේ** නුවණැත්තේ **කදෝපැණියකු** මෙන් වැටහෙන්නේ ය."

(iii) "ගොන් මස් නො ලදිනී
මෙපමණ කවයි ඉතිනී
කියමින් **වලගිනී**
ගසා **දිය හෙව** නිවී එගිනී"

[ දෙවැනි පිටුව බලන්න

(iv) "වැඳලා දෙවියන් පොත අරගන්නේ
යැදලා ගුරුනුත් සිත නොතලන්නේ
**සකලා** ශිල්පය මට සැදෙන්නේ
දැකලා **ගණදෙවි නුවණක්** දෙන්නේ"

(v) "වත් කැලුම් **සඳකැන්** වගේ කිරි සාගරේ පෙණගින් දිනූ
දත් කැලුම් කොඳ තොල් නෙළුම් පෙති නෙත් බැමක් වැනි **දෙව්දුනු**" (ලකුණු 5 x 5 = 25 යි.)

## II කොටස

- පහත දැක්වෙන ගද්‍ය - පද්‍ය කොටස් දෙකින් **එක කොටසකට පමණක්** උත්තර සපයන්න.

3. "කොහාට ද අම්මේ මේ වතුර යන්නේ ?"

"ඕවා කුඹුරුවලට යන වතුර. ඇළ දිගේ වතුර ටික යනවා අනුරාධපුරේ වැව්වලට. එහෙ ඉන්න ඇත්තෝ බොන්නෙත් වැව් වතුර. වැව් පිරුනොත් ඒ මිනිස්සුන්ටයි, මෙහෙ මිනිස්සුන්ටයි ගොවිතැන්කරගෙන දෙවියනේ කියලා කාලා ඉන්න පුළුවන්. ඉස්සර සිංහල රජකාලෙත් ඔහොමලු පැන්චෝ."

බස් රථයේ වේගය වැඩිවෙයි. අම්මාගේ කොන්ඩය අවුල් වී කෙස් රොදක් මූණට වැටේ. හුළඟ සීතල ය. හුළං වේගයට බස් එක ඩගස් ගාලා වැවට පෙරලේ දැ'යි සිතේ. මම පපුවට සීත වැදෙනවාට කමිසයේ බොත්තම දා ගතිමි.

"එහා ගොඩේ අර මූකලාන්වල තමයි පැටියෝ අලි ඉන්නේ. වතුර තියෙන කාලෙට උන්ටත් අපිට වගේ කරදරයක් නැහැ. අනිත් කාලෙට වතුර නැතිව උන්ටත් පිස්සු. එතකොට හේන්වලට පනිනවා. මිනිස්සු වෙඩි තියනවා. වෙඩිකාගෙන මරලතෝනියෙන් කැලේට දුවනවා. නැත්නම් ගහ කැපුවා වගෙ ඇදගෙන වැටෙනවා. පණ ඇදලා ඇදලා මැරෙනවා. ඊට පස්සේ පුස්සලා දානවා."

(i) මෙම කොටසෙහි දැක්වෙන අවස්ථාව කෙටියෙන් පැහැදිලි කරන්න.

(ii) පහත දැක්වෙන යෙදුම්වල අදහස පැහැදිලි කරන්න.
   (අ) මරලතෝනියෙන් කැලේට දුවනවා.
   (ආ) පුස්සලා දානවා

(iii) මෙම කොටසේ දැක්වෙන උපමාව සහ උපමේය උපුටා දක්වන්න.

(iv) "ගැමි ජීවිතය නිරූපණයට උචිත භාෂා විලාසයක් භාවිත කිරීමට පෙත්සම කතුවරයා සමත් වී ඇත." මෙම කොටස ඇසුරෙන් විමසන්න.

**නැතහොත්**

"ටිකිරා හේනට දුවගෙන ආවා කලබල වීලා
ඇයිද කියා වත් ඇහුවේ නෑ හොඳට ම බය වීලා

ගෙදරට ඈ ගොඩ වෙන විට හිටියා මිනිසුන් පිරිලා
ලෝකෙට ඇස් දෙක වහගෙන පුංචි එකා දිගා වෙලා

කකුල කැපී තුවාල වී උණ ගැනිලා සිටිය නමු ත්
මෙහෙම දෙයක් වෙයි කියලා හිතුවද ඈ හීනෙන් වත්

ගම්මැද්ද ම වට කරගෙන ගන කරුවල පැතිරී යයි
තනියම ඈ පිලට වෙලා කතා නොකර බලා සිටියි

කඩුල්ල ළඟ හබරල කොළ අතරින් ඇගෙ මූණ පෙනෙයි
අමුතු බලාපොරොත්තුවක් ඇගෙ ඇස් දෙක තුළ ලෙළ දෙයි

(i) මෙම පද්‍ය කොටසට වස්තු විෂය වී ඇති අත්දැකීම කෙටියෙන් පැහැදිලි කරන්න.

(ii) පහත යෙදුම්වල අදහස පැහැදිලි කරන්න.
   (අ) ලෝකෙට ඇස් දෙක වහගෙන පුංචි එකා දිගා වෙලා
   (ආ) ගම්මැද්ද ම වට කරගෙන ගන කරුවල පැතිරී යයි.

(iii) මේ පද්‍ය කොටසෙන් නිරූපිත පද්‍ය ආකෘතිය කුමක් ද?

(iv) වචනවල මතුපිට අර්ථය ඉක්මවා යන අර්ථයක් සිය නිර්මාණයෙන් ඉදිරිපත් කිරීමට කවියා දක්වා ඇති දක්ෂතාව මෙම කොටස ඇසුරෙන් පෙන්වා දෙන්න. (ලකුණු 25 යි.)

[ තුන්වැනි පිටුව බලන්න

## III කොටස

මෙම කොටසේ ප්‍රශ්න **දෙකකට** පමණක් උත්තර සපයන්න.
(එක් උත්තරයකට වචන **150**ක් වත් තිබිය යුතුය.)

**4.** මහෞෂධ පඬිවරයා තැනට සුදුසු නුවණින් යුක්තව කටයුතු කර ගැටලු විසඳීමෙහි ලා පළ කළ දක්ෂතාව 'පුත්‍ර ප්‍රශ්නය' හෝ 'කාළගෝල ප්‍රශ්නය' යන අතුරු කතා දෙකෙන් **එක්** කතා පුවතක් ඇසුරෙන් විමසන්න.

**5.** 'බුදුගුණ අලංකාරය' නිර්මාණය කිරීමේ දී උපමා - අලංකාර භාවිතයෙහි ලා කතුවරයා පළ කළ කුසලතාව අදාළ නිදසුන් **තුනක්වත්** ඇසුරෙන් අගයන්න.

**6.** රජරට මිනිසුන් විඳි අනේකවිධ දුක් ගැහැට තාත්වික ආකාරයෙන් ඉදිරිපත් කිරීමට කතුවරයා කෙතෙක් දුරට සමත් ව ඇත් ද'යි පෙත්සම නවකතාවේ ඇතුළත් අදාළ නිදර්ශන **දෙකක්** ඇසුරෙන් පැහැදිලි කරන්න.

**7.** නියඟයෙන් පීඩා විඳින මිනිසුන් වැස්ස කෙරෙහි තබන සොම්නස් සහගත බලාපොරොත්තු 'වක්කඩ බඳිමු' පද්‍ය පන්තියේ එන කවි **දෙකක්** ඇසුරෙන් පැහැදිලි කරන්න.

(එක් උත්තරයකට ලකුණු 15 බැගිනි)

***